# රුක්මණී

## දෙවැනි කාණ්ඩය





'කඩවුණු පොරොන්දුව'
'දිව්‍ය ප්‍රේමය'
ආදී සිංහල චිත්‍රපටි
වල ගීතද,
සුනිල් ශාන්ති ගේ
සුමිහිරි ගීත ආදියද
මෙහි තුලවේ.

# "රුක්මණී" කාණ්ඩ 2

## කඩවුණු පොරොන්දුව

### ප්‍රථම සිංහල චිත්‍ර පටියේ ගීතයෝ.

"රුක්මණී" දේවි

—පිසිනි.—

## ප්‍රේම දයා

ප්‍රේම දයා මාගෙ පියාණෝ—
අයියෝ ගියා අප දලා ලෝකේ||
ඔබගෙ තිබුන ප්‍රේමේ
සිහිවෙනව රෑ දවාලේ
වෑම් සෝම සෝකේ සෝකේ-(ප්‍රේම)
සැප හිරූ බැස ගියා
අඳුර මතුවී ලෝකේ සෝකේ
කාගේ පාපේ මාගෙ පියට හිමි උනේ
අයියෝ මාගේ පියතුමා.

## ලපටි රූපේ ඇගේ

චිත්‍ර පටි ගීත
කඩවුන පොරොන්දුව.

ගායනය
ඇඩී ජයමාන්න මහතා.

ලපටි රූපෙ ඇගේ දැක ගැහෙයි මාව වේගේ
ඒ රම්‍යා ජෝසි ශ්‍රියා කතී
ඒ රම්‍යා ජෝසි ශ්‍රියා කතී ඈ සේම අන් ලියන්
ලොවේ නැතී||
මෙතනට විත් පැන්නා මා නිකම්ම ගල් ගැහුනා
සැරසී මට රැව්ව නමුත් එක්කා යන්ඩ හිතුනා
මට මඩාගන්ඩ හිතුනා-(ලපටි)
මටම ඔබිත රූපේ, මට බැන්නා, මම රැව්වා
මටම ඔබිත රූපේ මාගේ තරමට උස හොඳ
ආදරේ මගෙ කෑදරේ
උඩ පැන පැන මාව දැල පැනල දිව්ව වේගේ-(ලපටි)

## චිත්‍රපටි ගීත කඩවුණු පොරොන්දුව

ගායනය, රුක්මණීදේවි සහ
බී. ජේ. ඩබ්ලිව්. ජයමාන්න මහතා

# සන්ධ්‍යාවෙ ශ්‍රීය

සන්ධ්‍යාවේ ශ්‍රීය රම්‍යා ලෙස පේනා
අද අහස දිලිසෙ සවර්ණ වර්ණ පා රශ්මි ධාරා||
ඈත උසට කඳු පව්ත සැම
අතින් පෙනෙන්නා කොස් පිනන්නා||
අහසෙ දුවන සිහිඳු වලා කන්දේ
හැපෙන්නා වැලඳ ගන්නා
සූර්යාද අපට ඉඟි බිඟි පානා
සකුලා ධාරා (සන්ධ්‍යාවේ)
පුෂ්ප කුසුම් මිශ්‍ර සුලන් දසතින්
හමන්නා ගිම් නිවන්නා.



## චිත්‍රපටි ගීත කඩවුණු පොරොන්දුව

ගායනය. රුක්මණී දේවී සහ
බී. ජේ. ඩබ්ලිව්. ජයමාන්න මහතා

# දිනිඳු දුවයි සැඟවී

1. දිනිඳු දුවයි සැඟවී ගන්ට සාගරේ වැදිලා වෙහෙස විලා
1–2. අද අහසෙ දිලිසෙ සවර්ණවර්ණපා රශ්මිධාරා|| (සැන්ධ්‍යාවෙ)
1. ග ගා සැමා සසි ගලා සාගරේ වෙනා||
2. එ ජල කඳ ගතී වැළඳ සමුද්‍රේ වැද||
1. පෙම් ජලේ ගිලීලා||
2. නාමු ප්‍රේම ධාරා||
1–2. ඒ ඉතා වේ ප්‍රියා||

## චිත්‍රපටිගීත - කඩවුණු පොරොන්දුව

**ගායනය**

එඩී ජයමාන්න සහ ජෙමිනි කාන්තා

# ඉස් ඉස්සර වෙලා

1-ඉස් ඉස්සරවෙලා ඔබව් මම දුක්ක දිනේමයි ආදර බැඳුනේ
දුක්ක දිනේමයි ආදරබැඳුනේ ඔබත් ආදෙරද දුම්මම කියහන්
2-ඇයි මේ මාගේ කොණ්ඩාප්පත් ලැජ්ජනැද්ද මහප්පු අය්යෙ
ලැජ්ජ හිතෙනවා මහප්පු අය්යේ
පාරේ මේ මිනිස්සු එනවා මම දුන් යනවා මහප්පු අය්යේ//
1-ඉතින් ඔබට බෑ තනිමග ගන්නට තනියව එනවා මහප්පුවා
2-කුලප්පුවෙන ඔය මහප්පුකැතුවට පාරේ යාමට
මටකිසි බයනෑ//ඉස්



# ප්‍රේමා ගින්න වැදී

චිත්‍ර පටි ගීත
කඩවුන පොරොන්දුව.

ගායනය
සූරියරානි සහ පිරිස.

ප්‍රේමා ගින්න වැදී දැවී ලයා මෙමාගේ
පිපී කුසුම සේ දිලෙන මේ රූපේ
ජලයෙන් ගොඩ ගත් මසු සේ හැහෙනා
සොලෙයා මා සැනසෙන්නේ//
භව සාගරයේ නාවිකයා නැති
යාත්‍රාවක් සේ සැලෙනා
ප්‍රේමා දගින නැති මා දුහැසා
සෝකා තාපෙන් දුල්වේ//

## චිත්‍රපටි ගීත කඩවුණු පොරොන්දුව

ගායනය රුක්මණීදේවි සහ
බී. ඒ. ඩබ්ලූ. ජයමාන්න

### පාපේ ශාපේ දෝ

පාපේ ශාපේ දෝ මේ මාගේ
ලෝකයේ මගෙ ආනන්ද රූපා
ඔබද දිනූ යස ප්‍රේමී
කෝමල රූ ශ්‍රී දේ සුරංගී
සුගුණ ලලිත මා සුහද පිනවනා
ආදර ප්‍රේමිය රූපාංගී
ප්‍රීතිය මා ප්‍රීතිය රංජිනී
ශෝකා නොවන් මං ප්‍රේම සමින්දු
ප්‍රීති උදාවේ ශෝක මැක්
අප ප්‍රේමය මතුදේ සාන්තී
සඳ ලප සේමා දීනෙ අපෙ ප්‍රේමා
සුරතා රැක දේවං ශාන්තී

---

## චිත්‍රපටි ගීත කඩවුණු පොරොන්දුව

ගායනය, එඩී ජයමාන්න සහ ජෙමිනි කාන්තා

### මගෙ සතා බඹරේ

1-මගෙ සතා බඹරේ දැන් කැරකෝ මාව සිසාරා
2-කුසුම ඔමයි ඔබ මාවට කැරකෙන බමරා
ඔබයි කැරකෙන බමරා
1-කුසුම නොරිද්ද බමරා රොන් උරයි අනේ
2-නිතර බමර රොන් ඉරුවොත් පරවිලා වැවේ
කුසුමා පරවිලා වැවේ
1-ප්‍රේමය ඇති බමර මලට නෑ රිද්දන්නේ
අනේ නෑ රිද්දන්නේ
2-ප්‍රේමයෙන් වෙලී සිටියොත් දෝෂ නෑ අනේ
1-2-ප්‍රේමෙ අපේ දිවි ඇතිතෙක් නෑ මැකී යන්නේ

## චිත්‍රපටි ගීත කඩවුණු පොරොන්දුව

ගායනය ඇඩී ජයමාන්න සහ ජෙමිනිකාන්තා

### දෙන්නගෙ ආලේ කුස්සිය මුල්ලේ

1–තක්කිට තරිකිට උඩපැන නටන්ඩ හිතුනා
නුඹව කරේ තියන් ලෝකෙ වටේ දුවන්ඩ හිතුනා
2–කතාව නම් අලාපෙන් යන්ට මෙන්න කකුල් දෙකෙන්
හැතුනක් රවටන්ට පිරිමි ඇසිද නොදන්නේ
1–මීමැස්සා
2–රොන් හොයනව
1–ජෝසී. ලහට කෙමින් හෙමින්
2–මතප්පුවත් කීවටු වෙනව
1–නෝනගෙ ආලේ ගේ මැද සාලේ
2–අපි දෙන්නගෙ ආලේ මේ කුස්සියෙ මුල්ලේ

## චිත්‍රපටිගීත කඩවුණු පොරොන්දුව

ගායනය— මල්ලවආරච්චි සහ පීටර් පීරිස්
යන මහතුන්

# සුංදරී රූප රංජනී

1–සුන්දරී රූපා රංජිනී —ප්‍රේමයේ ජයා හිමි උනා
මගේ ප්‍රමාණේ මෙනිස නේරේ||
2–ඉතා අංගසි මා මිත්‍රයා
1–2–සන්තොසා සේ මේ සිදුඋනා ප්‍රේමයේ ජයා හිමි උනා
1–වාසනාව මේ නුඹේ මා නිස සැදීයේ||
2–ස්තුතියි ඒ ශැනා
1–ඒ අති අගනා
2–පෙම් සිරි පානා සඳේ
1–2–ඒ වැඩිවේ මතු තිරයේ සන්තොෂා සේ
මේ සිදුඋනා ප්‍රේමයේ ජයා හිමි උනා

---

## චිත්‍ර පටි ගීත කඩවුණු පොරොන්දුව

ගායනය, රුක්මණී දේවි

# ජීවිතයේ

ජීවිතයේ සාමේ දේමේ ගීතේ රම්‍යා ගීතේ සාරා
දනා ප්‍රියවනා ගීතේ නා–සෑමා–දූන සින්දූ
ගීතෙනා ප්‍රියවිනා නාදේ–නදන
දෙව්ලොව් ශ්‍රී සුර සෑමා ප්‍රීති සංගීතෙනා
පිනත සැම ලෝදනා රංජනා
සතුරෑ ඒ මිතුරෑ වේ සැනා
මධුර වේ අම්බා ලෝකේ
ප්‍රේමයෙ ආභාරේ වේ මේ ගීතේ

## චිත්‍රපටි ගීත   කඩවුණු පොරොන්දුව

ගායනය,   රූපා දේවි

### දේව ස්වාමි කරුණා

දේව ස්වාමි කරුණා වේමා
පවුලට මා ලැබෙවා ශාන්ති
ආදර මා හිමි රජානෝ
ඔබ ලොව මාගෙ දෙවියානො
සාදරවූ සුරතල් දීගැනී
අප ප්‍රීතිය සෑදන සුරදූතී



## චිත්‍රපටි ගීත   කඩවුණු පොරොන්දුව

ගායනය   රුක්මණීදේවි

### යාමි ඉන්දියා දේසටා

යාමි ඉන්දියා දෙසටා
ආනන්දෙවි-සිත මාගෙ
ප්‍රේමා වන්වූ දිනේමෙ
යමුනා ගංතෙරා වැසා ප්‍රේමා පානා ලෙසිනා
සිතමා ලලල්ලලල්ලලල්ලල්ලාලාලාලාලාලා
හාහා හාහා හාහා හාහා
ප්‍රේමයෙ ලකුණකි ටාජ් මහල් ලෝකේ
ප්‍රේමා සැමදා අප පෙම් දමා
සෝබා කාන්ති දේවා දේවා

අනුවාදය

## ඩොක්ටර් චිත්‍රපටියේ — ''අේ-නයනා'' by පංකජ මල්ලික්

# සුසිල් ප්‍රේමරත්න මහතා

## ගුවන්විදුලි මගින් ප්‍රචාරය කරණලද ගීදෙකක්

ශ්‍රී රඳනා මනහාරී උදරී-සුන්දර පොහොය දිනේ//
සඳ කාන්ති ප්‍රභාදී හද පිනවාශෙ//උදුවී උදුවී සුනිලම්බරේ-
(ශ්‍රී රඳනා)

සඳ කාන්තියෙන් නෑවී-ජලධාරා ගලා ඒවි//
දර්ශනෝ විලාසේ මනහර වේ පා ප්‍රබෝධ ප්‍රීති කෙරේ=(ශ්‍රී රඳනා)
කොවුලෝ මිහිරී// මංගල ගී-ගයතී ගී නාදේ මනහර වේ
හා මීනා නාද සේමා-

මීහිඳ වී-වීහිඳ වී සුගන්ධ මේ සුලගේ } 2
පිබිදෙන මේ// මානෙල් මලු ගගේ }
වඳිතේමි පූජා කරමි සඳ මුනිඳුන් පද පංකජ ඒ=(ශ්‍රී රඳනා)

Composed by-David Wickramasinghe.



අනුවාදය

## රත්තන් චිත්‍රපටියේ

(—රූම් ජුම් බර්සේ බාදල්වා)

සුනිමල ජලයේ-මේ ගංගා පුෂ්ප පිපිලා රාසී
ශ්‍රියා දේය සෝභා සෝභා//
නැවී නැවී සීතල සුලඟින් රාත්‍රියේ රාත්‍රියේ
අහසේ හී චන්ද්‍රයා නැගෙන්නා ,, ,,
කෝකිලයන්ගේ ගී නාදේ මේ මහා ගැතීරේ
ඕ ප්‍රීති පානා පානා//
= සුනිමල ජලයේ—
හාන්වූයේ සෝකේ දප්පත් මා සිතේ මා සිතේ
සැපදේ ලව්කිත මධුර මධුර මේ ලෝකයේ ලෝකයේ
සාමේ ලෝකේ සැලසෙනවා-පා ජීවමාන තේජා
සොබා දහම් මානා මානා//
= සුනිමල ජලයේ—

Composed by-A. M. de Alwis

අනගි සිංහල චිත්‍ර පටියවූ

# "දිව්‍ය ප්‍රේමය"

ගී ත යෝ.

## ශ්‍රී මුණි ශ්‍රී පති

චිත්‍රපටි ගීත | ගායනය
දිව්‍ය ප්‍රේමය | පිරිස

ශ්‍රී මුණි ශ්‍රී පති ජයසිරි වේවා-සන්මුඛ දිව්‍ය ආසිරි වේවා
ඊශ්වර මෛත්‍රතල ජය මහ දේමා-සම්පත් සුංදර දීඝායු දේවා
සැමා වී සමගි හැරා වාද භේදේ
ප්‍රීති විනෝදෙනී වඩමා ජාතික ප්‍රේමේ
දරුවෝ ලෙසින් සැවොම ලංකා මාතගේ
සතුටින් ගැයේ ගීත ප්‍රීති ආනන්දේ



චිත්‍රපටි ගීත | ගායනය
දිව්‍ය ප්‍රේමය | පිරිස

## සිරිනි සාර

සිරිනි සාර සිර තේජ සිංහ වියඩි පා සද
සිංහ වියඩි පා සදපි සිංහ වියඩි පා සද
මෛධයඩි හා තේජසා-සිංහ වියඩි පා සද//
ජාති නැංවූ ශෞංහලී
කීර්ති නාමෙ යසි දිලී
සිංහලුන් යැමා මෙ දීපෙ සිංහ වියඩි සද
විදේශී කොංයක් දනා මෙනි ඇවිත් යති පිනා
සිංහලුන් සමගි වෙවා// සිරිනි සාර ... ... ... ...
ඕ..... ඕ..... ඕ .....ඕ..... ඕ......ඕ . ...
යමු වනාම වංසෙ නාංව දිව්‍ය ප්‍රේමෙ මේ ලොවේ
වික්ම පා එ සිංහ බලෙ සිත් ප්‍රබෝද රැස්වි දේ
ජාති අපේ වික් වේලා හා හා හා
කීර්තිය හා ශ්‍රී පතා × × ×//

## චිත්‍රපටි ගීත දිව්‍ය ප්‍රේමය

**ගායනය,** පැරකුම් සහ ලලිතා

### ආමි ආමි

1-ආමි-ආමි—
2-සෙත්වා පිං ඇති
1-යන්නේ කොහේ කියා දෙන්, මුලු ලෝකෙ සතුරෝ මං සා-
ලෝකේ ඉඩක් නැතේ හා-ප්‍රේමාග්නි වේ සඳේ මා=ආමි-ආමි-
2-යෙත්මා පින්ඇති-සාදලා මෙම පියා පත්-කුඩුවෙහි පක්ෂියා මෙ
න්නෙ පුරාලා කඳුළු වැගිරේවී සෑද ශෝකේ
1-ආමි...ආමි...මේ පෙම් ලොකේ ඉන්නවූ ඒ රෞද්‍ර කපුරු දන
සංග්‍රාමේ-ආමි...ආමි...ආමි...ප්‍රේමි...



## චිත්‍රපටි ගීත දිව්‍ය ප්‍රේමය

**ගායනය—** ලලිතා

### ප්‍රියාවී යායෙ

ප්‍රියාමී යාය ප්‍රශාන්තා ආචාර කරති අද = සිතේ කැමැත්ත හෝ
ඔබගේ ආචාර කරති ඒ සුලං මා සම්ඳුගේ
සුග හස්ත ප්‍රේමයෙන් සිඳලා ශ්‍රියා මගෙන තොවෙනස් මිතුවා
කියන් සහසා—ලොවේ ප්‍රමෝද ඒ—ප්‍රේමා සාදමෙන් කැලෙසා
ඔබේ ප්‍රියාදරී ලලිතා ආචාර කරති ඒ//
ශ්‍රී රඳනා මෙලෝකේ පැරකුම් හැරා යන සේමා
ලසෝක ගෑද වැඩෙවී-වියෝගයේ ජායා
අනේ පැරකුම මේ මගේ-අත්හැරා යමී මේ මා
යදී ඔබේ ප්‍රිය ලලිතා ආචාර පිළිගන්වා//

## චිත්‍රපටිගීත දිව්‍ය ප්‍රේමය

## ගායනය පිරිස

### රුව දිස්නා

රුව දිස්නා දුක්මෙන් සෝභා + + + හෝ සන්තාපේ වේ සදා–
සන්තාපේ වේ සදා වෙවි උමතු ලෝ ජනා//
එසේ වූ මූත් ප්‍රියේ ආශා ලොවේ පෙම් හැදේ අභිලාෂේ
නිමල් ප්‍රේමෙනී එම් මා ඕහෝ නොවී තී සොයා ලබන්දේ–
මා හැදෙනී–වේ සුරින්දේ–පෙම් ගිනී–සංතෝස බෝවේ–හා!...
සුරම් රූපේ ඇදී නේත්‍රනි රැස් විදේ ස්නේහේ
ඒ කාන්තා රූ සිරි භාශා–දශීනෝ වේ සදා ප්‍රේමා පින්වත්ති
දකින්ටා නේත්‍රා + + මගේ ලෝලවේ ශ්‍රියා// සන්තානේ
සුනිල් නේත්‍රා මගේ ඒ රම්‍ය රූහැරා–අත් රූ දුක්මෙනී–නොවේ
ආශා – දූසටා වූදේ මගේ–පාදලා දෙන්නෙ කවුද මේ ලෝදා—
වෙමි ආතතු පෙම් දූක්මේ ඒ ශ්‍රියා රූ ශ්‍රී ඇන්දී සිතේ
පෙම සාර ලන්දා දූක්මෙන් වී උමතු මා ලසෝකා//
ඒ දෙයවේ—සැමට මෙලොවේ–රූම් සූදිලේ–සද මන දිරේ
ආශා නිසා ලය සෝකේ–ඉපදී උමතුවේ ජනා—

## චිත්‍රපටිගීත දිව්‍ය ප්‍රේමය

## ගායනය පිරිස

### ලොව නවාතැනක් මයි

ලොව නවාතැනක් මැයි සොබා දහම් ලෙස සංසා විශේෂා හෝ—
සංසා විශේෂා–හෝ–බූමිතල—සංසා
ලෝක සැපේගී සිහිනෝ දූකලා–ආයු ගෙවී මරනෙටා අයේ
ප්‍රවේශමෙන් දූත් යන්ටා සැහේ–ලෝක මිමානේ සැමා මේ//ලොව
ප්‍රේමෙන් මාගේ ආශා නිමාවී–සිහමින් ආමි මා—දූක්වෙ ප්‍රියා මා—
කාමේ විපාකේ පූජී කලාවූ මා
(ලොව නවාතැනක් මය)
ඕ බාරයි ජීවේ–දේව තුමන්ටා ලෝකේ බලන්නාවූ

## චිත්‍රපටිගීත දිව්‍ය ප්‍රේමය

ගායනය ලලිතා

### ශාක්ෂි දේ චිත්තේ

ශාක්ෂිදේ චිත්තේ මගේ–සන්තාප වේ–හෘදෙ සාකියා
ඉන් නැවෙව් මා බුවි තලේ//
නැත්තෙ සිත්හි අන්‍ය දේ රූ ඔබේ හැරා
මතක නෑ මටමා ඔබ තුමා සිහි ඇතේ//
හිවිසගත් මා හා විසීගම් ජීවිතේ
දුක් වියෝගය තුඩුදේ ලෝද හෘදයේ//



## චිත්‍රපටිගීත දිව්‍ය ප්‍රේමය

ගායනය, පැරකුම් සහ ලලිතා

### සුප්‍රියා ඔබත් ශැරා

1. සුප්‍රියා ඔබත් ගැරා ලොවේ වාසෙත් පලක් නැතේ//
2. ඔබ නොදුන දුක් මෙලා මාතෙත් කඳුලෙන් පිරි දූවේ//
1. ඕ . ඕ.........
ජීවේ සුරම්‍ය යෞවන මේ සෝභනී පෙලි
ආශා ලොවේ මගේ දිවි සීමා අහෝ පෑහෝ//
2. ඕ ... ඕ
මගේ ජීවිතයේ අභිලාෂ සංසිදී මෙ වියෝගා
ඕ..... ඕ ඕ .....
සිරියාවී ..ඒ සොයාවි සුවිනීතා ලෝසෝ මාගේ...

## චිත්‍රපටි ගීත දිව්‍ය ප්‍රේමය

ගායනය ලලිතා සහ පැරකුම්

### ප්‍රීතියානන්දේ

ප්‍රීතියානන්දේ × පෙම් ලොවේ ශ්‍රී සුන්දා මේ + මා මෙහි-
දුන් හී එකී + කරුමේ අපේ||
හෝ... .... හෝ ......හෝ
එක් දිනක් මා හා මෙති වී පෙම් මීසුම
සිත් තැවිල්ලෙන් මා පෙළේපී ශෙදවයේ||
හෝ ..... හෝ ......හෝ
එක් ජගත්තා විරතුම් පැරකුම් සුපෙම්-හෑදෙ දුක්
තොල් විවරෙනී විහිදේ||

## චිත්‍රපටි ගීත දිව්‍ය ප්‍රේමය

ගායනය පිරිස

### සුරින්ද සුරින්ද සුරින්ද

සුරිඳු, සුරිඳු, සුරිඳු
ශ්‍රී දිව්‍ය සුරින්දේ, දුක මේ යොවුන මාගේ
ලය සෝක මුදාමී සැනසීම දෙවාතේ||
හෑදෙ මගේ සොරකම් කළේ--මහ ප්‍රීති සිදීයේ-
කාමේද මගේ මේ- අහෝ දිව්‍ය සුරින්දේ-ලේ කඳුලු සලා
ඉන්ට උනා දේගේ දමේ මා||
සාම් දිව්‍ය සුරින්දේ-සැමදා මෙම්ලාසේ ඔබ නාමවා
මා ශාප කිරීමෙහි ලංකෝකේ||
හද මන්දිරේ ප්‍රීති ශ්‍රිය විදවීනාශස්සැනසීම දෙමාගේ
නව යොවුන ජීවේ||

# සූර්යසංකර් මොල්ලිගොඩ මහතා

විසින්

ගුවන් විදුලි තැටියකට ගායනා කරනලද

ගී දෙකක්

## ජල ධාරා

ජලධාරා මේ ගංගාවේ ජලධාරා
නැර ගලා බසිනා හඳපානේ දලී දිලී
ශොභා මැවී මෙම රුයේ ජලධාරා//
සුමධුර පෙම් ගීත ලෙසේ විනිවිද යාවී මා සැනදේ
ජල තරඟය දෙන රංගේ, සවන පිනවමින
මේ පෙම් ගංගාවේ–ජලධාරා//
පරම දයා ගුණ සැපත විනෝදේ, පවතී පවතී–
මන්දිරේ හද මන්දිරේ
පියකරූ සොඳ පෙම් ජීවේ–දර්ශන කරදුන් රාණී
අපි සුන්දර පෙම් පුෂ්පා–තෙලමු මේ ගංගාවේ–(ජල)



## සුමධුර සුමධුර

සුමදුර සුමදුර ගීත ගයා වී
මා රැජිණී වනරානී (සුමදුර)
මනහාරි මනහාරි සැන්දෑවේ මනහාරි
වැස ගලා යාති ජලේ මේ ගඟේ
ප්‍රීතම භාවේ ජීව තරංගේ සඳ රැස් ධාරේ
ගිලුණු මේ වනේ
කෝ අද මගේ ප්‍රිය රාණි (සුමදුර)

### කාන්සන් චිත්‍ර පටියේ

කේ. ඇල්. සෙසිගල් මහතාගේ ගීයක් අනුව
ජී. ඇම්. අල්විස් මහතා විසින් ප්‍රබන්ධ කරන ලදි

# මේබල් ප්‍රනාන්දු තරුණ මහත්මි

විසිනි.

## සිරි රාහුල මාතා

සිරි රාහුල මාතා යසෝදර තුම් + බිම්බා දේවි රූ සිරි සරූ +
පරම ගුණේ කුල සිල ජම්ම තැන තිලොවෙහි මනකාරා +
සසර ඒ පැතු අති සුමධුර ප්‍රේම කාරුණා සිත්හිව් ධාරා +
සෑසි සත කුල තිලක මහා සත් අග මෙහෙසිවූ ධීරා // සිරි...
පුතණු උපන්ද තිලෝකේ ඒ බුදුන් වෙතේහි ප්‍රේමේ පාලා +
බුදු රජ පදවී ලබා විමුක්ති සැප දෙකාසේ අප දලා + +
සවාමි ගියත් සිත් සෝක වියෝගේ ඔබේ සිසිල් ගුණ මාලා +
අසෝ නිවාලයි කියා සිතු මව් ඔබවද ගුණසිරි සාරා // සිරි ...
හිමි සවරූපේ අසා තමගා කිස මුඩුකල රාහුල මාතා +
සවාමි ශලසින් කාසාවක් පොරවා වැලඳු පෙම්බර මාතා +
සවාමී නමින් පතී ධමේ රකිමින් පැවිදිවි මා ප්‍රිය මාතා +
පිහිටිවාරක්ෂා ලොව වාසි කුලගතෝ වදී යසෝදර මාතා // සිරි...



## ප්‍රීති ප්‍රීති

ප්‍රීති ප්‍රීති + + දිස්නා සපුණේ චන්ද්‍රා පතී + +
සේමා රූපා ශ්‍රී කාන්ති ඇති + + ප්‍රේමා පාතී + දිස්නා .....
ශාක්‍ය පුත්‍රව නන්ද කුමරා × ශාක්‍ය හිමි පසු පස්සේ එවරා +
පාත්‍ර සිරි සැප .... තොස්වී + මාගේ ඝන රග දූක තොෂ්වී +
සිරි සාතසේ + රජ විමණේ + උන් ජනපද + කල්‍යාණී +
ප්‍රේමෙන් මත්වී +
කුමරුන් කැඳවනා බසදුන් සමිකා + හිමිඳු තිලෝනා
රූපෙ දෙස් පාද +
පැවිදි කරවලා දුනී සාන්ති + + දිස්නා

ග්‍රේටා ජේනට් සහ — — —

— — මල්ලව ආරච්චි විසිනි.

# බුද්ධ සිරිත. බයිලා

1. අනන්තවූ සුසිරිත් + + මුණි ගුණ සාගරෙන් රැගත්-
අමා බිඳක් දූන් හැටත් + + පාලි ගී තදින් රසවත්

2. අනන්තා සැම සුදනන් + + මන පිනවන ගීත බසින්-
සලුමුව වැඳල බුදුන් + × කියන්ට අවසර සබයෙන්

3. කෙළිකරලා අඳුරු + × සසර කතා ර ඟන අඳුරු-
මුල්විවර ගෙන් ගරු + × කෙලෙස ලැබු ව එ දවිඩුරු

4. මහ මූදක තපුරු + + මැනි කොතෙක් ඒ බේරු-
පුතෙකුට මැණි ගරු + × මුල්විවරණ දූනි සොඳුරු

5. සවතා පිනන මෙමින් + + බුදු ගුණ අසමි සතොසින්-
ඒ සුමේධ තවුස් තුමන් + + විවරණ ලැබුවේ කෙලසින්

6. තිලෝවෙසා සුම්තුරුවන් + + වෙසතුරු මුණි දූන එතුමන්-
රඹගන් පුරෙනි අතීන් + + වැරදුනි සිරිපා තබමින්

7. හඳ කුමුදු පුබුදු + + මතෙහි සහෙහි මෙපිනි බිදු-
පොලම් පුරා ඒ දිනිදු + + බුදුවුණේ කොලෙසද මේබදු

8. ජොලුම් දස පැරදූ + + අහස් කුසේ තරු පැරදූ-
සඳුදුර ය පැරදූ + + ලේ දන් දී වුනේ බුදු

9. සම්පත් දෙන තිවන්ත් + + බුදු වෙනසේ දෙනි සවනේ-
මිතුරු ක්ෂනු අනේ + × පෙපැවූ පිරූ ගැට සොඳිනේ

10. රයිකා සෙනාග සිනේක් + + සිතතවූ සම්පත් දෙදීනේ-
බුදු බව තර ලොබින් + + ජාත ජාති පතමින්

11. ඒ වර අමර පුරේ + + සැප විදි බෝසත් පවරේ-
සැප හැරද තොසිරේ + + උපන්නෙ කොතනද මයුරේ

12. සුර බඹ සෙන් එවරේ + + බුදුකුරුපා වැඳ ලැසිනේ-
අසා කිව් බස් තැපරේ + + දිනී දඹදිව කපිල පුරේ.

# එක විධියක බයිලා
# යාවි හොඳට නැගීලා.

නැටි ගීත — කොළොම්බියා

ගායනය — ග්‍රේටා සහ පිරිස

මගේ ගුරුමර වැඳලා – ඔන්න ඉතින් කියනව අද රසකර බයිලා
ඔන්න ඉතින් අහමු මගේ රසඳෙන බයිලා–
එක විධියක බයිලා–යාවි හොඳට නැගිලා

සුද්ධෝදන රාජ පුතා බුදුවූ ලොවතුරා–
මැද්ද මණ්ඩලේ කොහොමද උපන් හැටි මිතුරා–
කියන් රසකර ගොතලා–මේව විධියක බයිලා

සුද්දවූ බුදු දහම ලෙසට අහපන් මිතුරා–
සුද්ධෝදන බිසව කුසින් උපන් ඒ කුමරා–
මේව රසඳෙන බයිලා–යාලු අල්ලගනිල්ලා

පායන හඳ එළිය වගේ හොඳ කතන්දර–
මාය පුතුන් ඉපදුන හැටි කියනු විස්තර–
යාලු තාරමට ගොතලා–අපි කියමුද බයිලා

නෑයන් සහ ලුම්බිනියේ බැලූ විස්තර–
මාය මව් කුසින් සිඩාර්ථ උපන් විස්තර–
යාලු පෙරුම් පුරාලා–බුදු වෙන්ට සිතාලා

සරසවි වර ලැබ පවසමි මෙපද ගොතාලා–
සුරතල් එරහල් පුතු හැර ගියෙ නිඹ නොබලා–
යාලු රජ සැර දලා–පිය තාත හැරදලා

ඝෝර සසරෙ දුක තේරී ඉක් මුදවාලා–
හැරල ගියේ දෙන්ට උතුම් නිවන් සොයාලා–
පුතාවගේ සිතාලා–ලොවේ පුතුන් සියල්ලා

කිම්බර දහසක් මරසෙන් එදා පරදලා–
ගම්බීර බුදුනුවන් ලැබුන හැටි පහදලා–
කියන් යාලු ගොතාලා–අයියේ ලියා ගනිල්ලා

සුන්දර ඒ ගයාවෙහි බෝමැඩ වැඩලා–
පෙම්බර බෝසත් බුදුවූනි කෙලෙස් නසාලා–
ඔන්න ලියා ගනිල්ලා කිව්ව පොතෙන් බලාලා

මධුර අමා රස සාදන ධම්ම දෙසාලා–
අජර අමර නිවන් වැඩිය හැටි පහදලා–
කාමදද කියාලා–කියන් මතු පහදලා

පවර මෙසඟෙ කුසිනාරා සල්වන වැඩලා–
අමර නිවන් පත්වූනි බුදුසිරි සාලා–
සාදු සාද කියාලා–වඳිමි නිවන් පතාලා

✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽ ✽

# ඇලන් රත්නායක

—මහතා—

## ප්‍රසිද්ධ සභාවකදී ගායනය කල
## මිහිරි ගී හතරක්.

### මාතා පීතා දෙදෙනාටා

අනුනාදය=හරිදාස් චිත්‍රපටියේ=අන්නෙයුම් තත්දෙයුම් තානේ

---

මාතා පීතා දෙදෙනාටා හද කල=කුමාර අජාසත් පව්ටු රාජා ඒ
පුත්‍ර ස්නේහේ මඩාලා-බොහෝ බා ලද් පුතුගේ
වනසැරව ඉරූ බිම්බි සාර ඒ-පියතිරිඳ රොයිතා
බන්ධනාගාරේ සිරකර මැරුවා=මාතා පීතා...
හා, නදව්දත් හටා, මුලා වීලා-බුදුන්වා කාලේ ද්‍රෝහිකම්
නාලාගිරි ඇතුවා ශා පොවා-එව්ාව් මුණිඳ, නාස ාටා
ඒ දෙව්දත් හටා මුලා වීලා—මෑණිහටා තමාගේ පා පහර ගසා
කල පීඩා මෙසේ=කුමාර අජාසත් පව්ටු රාජා ඝෝර අපායට
වැටුනී ඒ පවිතා—මාතා පිතා × ×



### ශාක්‍ය රජුන්ගේ

---

ශාක්‍ය රජුන්ගේ ශ්‍රී ධර්මස්කන්ධ ශ්‍රී සඟබෝ රජිඳු||
මෙ මනු ලෝකේ සැම සැපා ශ්‍රී නිෂ්ඵල බැව් තෝරි-
රාජාභෝ-ශ්‍රී සත

සිහසුන දුරහැර තපසට ලොබවී/ ශ්‍රී බුවනේකබා පාවාවු කාලේ
අත්තනගලු වනයේ ධ්‍යානයේ යෙදී/ ශ්‍රී සඳ ගෝඨාභය
නම නරඅතියාගේ කුරිරු||

රුධිරෙහි පිපාසය නිවනාසේ|| හිස දන් දුන් ඒ රජිඳා
භූමියේ හී||

සුසැදී අත්තනගලු වෙහෙරේ මේ පූජා පුදමි||

# ජේතවනාරාමේ

ජේතවනාරාමේ අති රමණී × අනාථ පිංඩික ඒ සිටානෝ
ලෝකෝත්තර ශ්‍රී ධර්ම අසාලා × පිදූවේ මුණිඳුටා
ඒ විහාරය සිටානෝ
සුදශීනා ඒ රම්‍යා රාමේ × සඟ සතු කලෙය මෙසේ
ඉමං ජේතවන විහාරං–අගතා නාගත සස්ස
චතුද්දී සස්ස බුඩස් මුකස්ස–සංඝස්ස දම්මී
මදියාසේ බැණී පෙම්පා බෝමා–කීවි න් සැප පතා
ශ්‍රී නීවනේ සැප පතාලා × ජේතවනාරාමේ||

# කාමාලේ බැඳිලා

කාමාලේ බැඳීලා ධනානේ බිඳේ ලිය තඹර මලේ
රෑ දුක තපසා||
එනමයේ කොළ බුදිති තාපසයා–මූලාවේවී ලියෙකු වැනි ඒ මලටා||
මේලෙස ලෝකේ යෞවන ජනයා මලසේ දිලෙනා රූපෙටරුවී||
විපතට පත්වේ තාපසයා සේ ලියතඹර මලේ රෑ දුක තපසා||
දිලී සෙන්නාවූ සැමදේ රත්න නොවේතී–
රුවටෙන්නෝ ඊට විපතේ මැවෙති
රූපෙ ඔපේවා – මෝහෙකි දූසා රුවිරීලා
රූපෙ ඔපේ මායමකී–විපතට දේ මෙලොවේදී||

විශෙෂ අවසරය පිට රිදීවලාවෙන් උපුටාගන්නා ලදී.

සංගීත් විශාරත් සුනිල් ශාන්තින්
—විසිනි.—

# ඔළු පිපිලා

1. ඔළු පිපී-ලා වෙල ලෙළදෙනවා සුදට සුදේ තංගෝ
ඔළු නෙළා-ලා මාල ගොතා-ලා දෙන්න ද සුදූ තංගෝ
එන්නෑ දියේ බැස මං නා=දෙන්නෑ ඔබේ අත මාලා
ඔළු නෙළා-ලා මාල ගොතා-ලා
පළදීමු අපි මාලා

2. වැල නො කැඩී පෙම් කෙළිමින් යන්නෝ දැඩිපැටිවී තංගෝ
කුකිස්සෝ උඩ පැන පැන යන්නෝ අප කැදවා තංගෝ
මෙන්න මලක් මා නෙළුවා-ඔන්න ඔබෙයි ඒ මාලා
ඔළු නෙළා-ලා මාල ගොතා-ලා
පළදීමු අපි මාලා

3. මා පරදිනවා ඔබ ගේ දෑතට මට ලජ්ජයි තංගෝ
හෙමිහිට හෙමිහිට නෙළමින් යමුනෝ කලබල ඇයි තංගෝ
ඔළු මලේ සුදගහලා-ඔබ රුව වැඩිවෙයි මාලා
ඔළු නෙළා-ලා මාල ගොතාලා
පළදිමු අපි මාලා

4. නෙළුවා නෙළුවා බරට මැ නෙළුවා බරට බරයි තංගෝ
මෙච්චා ඇරගෙන වට්පිල් කන්දට යමුද ඉතින් තංගෝ
අන්න නංගි මෙහි එනවා-යමු යමු හනිකට මාලා
ඔළු නෙළා=ලා මාල ගොතාලා
පළදීමු අපි මාලා

| | | | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| ස | ං | ස | ස | ස | ං | නි | ස | රි | රි | ප | ප | ග | ග | ග | ං |
| ඔ | ං | ළු | පි | පී | ං | ලා | ං | වෙ | ල | ලෙ | ළ | දෙ | න | වා | ං |
| රි | ග | ම | ප | ග | ං | ධ | ං | ස | ං | ං | ං | ං | ං | ං | ං |
| සු | ද | ට | පු | දේ | ං | තං | ං | ගෝ | ං | ං | ං | ං | ං | ං | ං |
| ග | ප | ප | ප | ප | ං | ධ | නි | ධ | ං | ප | ප | ම | ං | ග | ං |
| ඔ | ං | ළු | නෙ | ළා | ං | ලා | ං | මා | ං | ල | ගො | තා | ං | ලා | ං |

| | | | | | | | | | | | | | | | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| රි | ග | ම | ප | ම | ම | ග | ˆ | රි | ○ | ○ | ○ | ○ | ○ | ○ | ○ |
| දෙ | න් | න | දු | සු | දු | න | ○ | ගෝ | ○ | ○ | ○ | ○ | ○ | ○ | ○ |
| ස | ○ | ස | ස | ස | නි | ධ | නි | ස | ○ | ග | ○ | ○ | ○ | ○ | ○ |
| එ | න් | නෑ | දි | ගේ | ˆ | බෑ | නී | මා | ○ | ලා | ○ | ○ | ○ | ○ | ○ |
| ස | ග | ග | ග | ම | ග | රි | ග | ම | ○ | ප | ○ | ○ | ○ | ○ | ○ |
| දෙ | ණ් | නෑ | ඔ | බේ | ○ | අ | ත | මා | ○ | ලා | ○ | ○ | ○ | ○ | ○ |
| ධ | ○ | නි | නි | ස | ○ | රි | ○ | නි | ○ | ස | ස | ධ | ○ | ප | ○ |
| ඕ | ○ | ෙ | මක | ප්‍රා | ○ | ලා | ○ | මා | ○ | ල | ගො | තා | ○ | ලා | ○ |
| රි | ග | ම | ප | ග | ග | රි | ○ | ස | ○ | ○ | ○ | ○ | ○ | ○ | ○ |
| ප | ල | දී | මු | අ | පි | මා | ○ | ලා | ○ | ○ | ○ | ○ | ○ | ○ | ○ |

විශ්ව විද්‍යාලයකින් "සංගීත් විශාරද්" උපාධිය ගෞරව අන්දමින්
ලබා තිබෙන සංගීතඥයාවූ

# සුනිල් ශාන්ති විසිනි.

## පවන් සලන්නේ මා නළවන්නේ

පවන් සලන්නේ = මා නළවන්නේ||
ගුවන් කිසේ වළා අදින්නේ.

කවුද අනේ, 'හෝ හෝ' ගා සුසුම් හෙළන්නේ,||
රෑ දවාල හැතුව මහා දුකින් පෙළෙන්නේ,
'හෝ හෝ' ගාලා = සුසුම් හෙළාලා. (පවන්)

කවුද අනේ, මට නොපෙනී ලොවේ දුවන්නේ||
සැරෙන් සැරේ ගස් වැල්වල හැපී හඬන්නේ,
'හෝ හෝ' ගාලා = සුසුම් හෙළාලා. (පවන්)

කවුද අනේ, මුද ළෙළා රැල්ල නගන්නේ||
ඒ මත්තේ රුවල් ඔබා ඔරුද අදින්නේ,
'හෝ හෝ' ගාලා = සුසුම් හෙළාලා. (පවන්)

කවුද අනේ ගොයම් කෙතේ රැල්ල මවන්නේ,||
'සර සර' ගා කොදිරි ගගා මා වෙහෙසන්නේ,
'හෝ හෝ' ගාලා = සුසුම් හෙළාලා. (පවන්)

# සංගීත් විශාරද් සුනිල් ශාන්ති
විසින්.

## හැරම්පිය

භෛරවී – දාදරා – මධ්‍යලය

**අඩ පණ වී කුසගින්නේ**
**කොදිරි ගගා මරුගෙ මූවේ**

1 දණ බඩ ගා කාණු දීගේ — කිරි වැපීලා සීතලයේ
කොයිද උදව් අද මෙලොවේ — වරෙන් අනේ හැරම්පියේ.
2 පුතුන් හදා වෙහෙස වෙලා — මෙහෙම තමා සැප වින්දේ
කොයිද උදව් බැරි වූ දා — වරෙන් අනේ හැරම්පියේ
3 දූ__ වඩා බිර දීලා — පොදි බැඳලා දැවැද්දේ
ඇයි ඉඳලා ජරාවෙලා — වරෙන් අනේ හැරම්පියේ.
4 අගු කොමුංචි වකුටු වෙලා — ඉඳුල් කකා වලත් දොරේ
යන්න ඉතින් කිසමතායේ — වරෙන් අනේ හැරම්පියේ.
5 ගල් මුල්වල හැපී වැපී — රෑ විඳලා කැට මූහුරේ
යනාත ඉතින් ගත අඳුරේ — වරෙන් අනේ හැරම්පියේ.

### ස්ථා යි.

| × | ० | × | ० |
|---|---|---|---|
| ස සප ප | ප පධv නිv | ප ධv ම | ගvරි ගv – |
| අ ඩ- ප | ණ වී- – | කු ස ගි | න්- නේ – |
| ස රිv ගv | ම ප ධv | ම ගv රිv | ගv ස – |
| කො දි රි | ග ගා – | ම රු ගෙ | මූ වේ – |

### අන්තරා

| | | | |
|---|---|---|---|
| ගv ම ධv | නිv ස – | රිv ගv රිv | සනිv ස – |
| ද ණ බ | ඩ ගා – | කා ණු | දී- ගේ – |
| ස රි ගv | රි ගv – | රිv – නිv | ධපv ධv – |
| කි රි වැ | පී ලා – | සී – ත | ල- යේ – |
| ප ධv නිv | සv රි ගv | රිv ස ධv | නිv ස – |
| කො යි ද | උ ද ව් | අ ද මෙ | ලො වේ – |
| ස ගv ම | ප ම ගv | ගv ම ගv | රිv ස – |
| ව රෙ න් | අ නෝ – | හැ ර ම් | පි යේ – |

ලක්නව්හී භාට් බාණ්ඩේ සංගීත විශ්ව විද්‍යාලයෙන්
ගායනයෙන් හා වාදනයෙන් "ඩිප්ලෝමා"
ලත් එකම ලාංකිකයාවූ

# සංගීත් විශාරද් සුනිල් ශාන්තින්

විසිනි.



## සුමනෝ සුමනෝ

සුමනෝ, සුමනෝ මැණිකේ යන්නේ කොයිදෝ කඩිමුඩියේ
තවම හෑ අනේ අඳුරු වැටුනේ පොඩ්ඩකට නවතින්||
අතරමග රැක බලා සිටියා නොඉවසිල්ලෙන් මගෙ පොඩි
මැණිකේ / සුමනෝ
පස්ස නොබලා යන්න යන්නේ ඇයිද මැණිකේ මගෙ සිරි
මැණිකේ / සුමනෝ
දෑස නොහෙලා වේලී වේලී මගබලා සිටියා ඇයිද මේ / ඇයිද මේ
පැත්ත නොබලා යන්න යන්නේ තරහවෙන් වාගේ-[සුමනෝ]
ඔබද තනිවී මාද තනිකර ඉන්නෙ ඇයි මැණිකෝ
කලබලෙන් / කලබලෙන්
විදුලියෙන් මෙන් යන්නෙ කොයිදෝ මොහොතකට නවතීන්
[සුමනෝ
තරහවෙන් මෙන් යන්න යන්නේ මා එපා වීදෝ-මා එපා වීදෝ
පෙම් ලොවේ රඟ පෑ කාලේ මතක ඇති නොවේදෝ
මල් සරා මල් සරා||
හීයකින් විද්දද සුමනෝ ඇස කොණින් බැලුවේ [සුමනෝ]
සිවු සැටෙන් එක මායමක්වත්දෝ සුමන මැණිකේ ඒ
ඇයිද මේ ඇයිද මේ
කොල කඩා පෙන්වන්නෙ සුමනෝ-ගහ අපේ නොවේදෝ
[සුමනෝ]
ඔබද තනිවී මාද තනිවී ඉන්නෙ ඇයි මැණිකෝ
පෙම් ගඟේ පෙම්ගඟේ
පෙම් ගඟේ කිමිදි පිහිනා එතරවෙමු මැණිකෝ [සුමනෝ]

## "කඩවුණු පොරොන්දුව"

– සහ –

"දිව්‍ය ප්‍රේමය"

යන

සිංහල චිත්‍රපටිවල

# රෙකෝඩ්ස්

අපෙන් ලබාගන්නා සංගීතාභිලාෂීන්ට

මේ, "රුක්මණී" කාණ්ඩ 2,

මංගල ත්‍යාගයක් වශයෙන් පිරිනැමේ.

## නිව් වෙල්කම් ස්ටෝර්ස්

(ග්‍රැමපෝන් හවුස්)

මරදාන සහ ජාඇල.

උස්වැටකෙයියාවේ "ජයබිමැ" නිවැසි සී. ජ්. හෙට්ටිආරච්චි විසින් විජය මුද්‍රණාලයෙහි
අච්චුගස්වා ප්‍රසිද්ධ කරනලදී.